# ගව සම්පත

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

බුදුරජාණන් වහන්සේ ගේ මෛත්‍රිය සාර්වභෞමය හෙවත් හැම සත්ත්වයන් කෙරෙහි එකසේ පැතුරුණු මෙත් සිත ය. දුඃඛිත සත්ත්වයන් කෙරෙහි පැවති දයාවේ අනුකම්පාවේ මහත්වය නිසා එයට මහා කරුණාව යයි කියනු ලැබේ. එහි ප්‍රතිඵලය වූයේ බෞද්ධයන් විසින් කවර කරුණක් නිසාවත් සත්ත්ව ඝාතනය නො කළ යුතු බව ය.

බුදුරජාණන් වහන්සේ උපන්නේ, වාසය කළේ ගොවි රටක ය. ගොවි රටකට නැතිව ම බැරි ගව සම්පත් ගැන සැලකූ උන් වහන්සේ ගවයාගේ වටිනාකම විශේෂයෙන් සඳහන් කළේ මෙසේ ය.

**නත්ථි ගො සමිතං ධනං -** ගොවි රටකට ගවසම්පත හා සමාන ධනයක් නැත. **ගාවො නො පරමා මිත්තා යාසු ජායන්ති ඔසාධා -** පස් ගෝරස නැමැති ඖෂධ සපයන ගවයා ජාතියෙහි පරම මිතුරා ය.

ශ්‍රී ලංකාව ද කාර්මික රටක් නොව ගොවි රටෙකි. ගොවි රටකට සුදුසු ධනොපාර්ජන ක්‍රම දේශනා කළ බුදුරජාණන් වහන්සේ පළමු වැනි තැන දුන්නේ ගොවිතැනට ය. කර්මාන්තය ට දුන්නේ සිවු වැනි තැන ය. ගොවි රටකට ගවයාගෙන් ලැබෙන ප්‍රයෝජනය නුවණින් සලකා බැලිය යුතු ය.

ගවයා ජනතාව නිරෝගී කිරීමට අවශ්‍ය පස්ගෝරසය සපයයි, තවමත් විශාල සංඛ්‍යාවක් වන කරත්ත වලින් බර වැඩ කර දෙයි. තවමත් අක්කර ලක්‍ෂ ගණනක් කුඹුරු හා දීමෙන් ආහාර වගාවට අතිශයින් උපකාර කරයි. ගවයාගේ ගොම පෙළොව සරු කරයි. දුප්පතාගේ ගේ පිරිසිදු කර දෙයි. රුපියල් කෝටි ගණනක් වියදම් කර ගෙන්වන යූරියා නැමැති පොහාර ගවයා නොමිලේ සපයයි. ගවයාගේ සම් විවිධ භාණ්ඩ නිපදවයි. ඇටකටු පොළොව පොහොර කරයි. මෙබඳු සේවයක් කරන ගවයා මැරීම ජාතික අපරාධ නො වේදැයි මැදැහත්ව සිතා බලන්න.

මේ රටෙහි ගවසම්පත පිරිහෙනවා විනා දියුණු වන බවක් පෙනෙන්නට නැත. රජයේ සංඛ්‍යාලේඛන අනුව 1956 සිටි මී හරකුන්ගේ සංඛ්‍යාව 7,89,421 යි. එළහරකුන්ගේ සංඛ්‍යාව 14,50,156 යි. 1968 මී හරකුන්ගේ සංඛ්‍යාව 7,83,228 යි. එළහරකුන්ගේ සංඛ්‍යාව 16,59,603 යි. 1956 ආහාරයට මී හරකුන් මැරූ ගණන 2073 යි. එළහරකුන් මැරූ ගණන 1,74,917 යි. 1971 මැරූ මී හරකුන්ගේ සංඛ්‍යාව 3710 යි. මැරූ එළහරකුන්ගේ ගණන 2,51,710 යි. සංචාරකයන්ගේ පැමිණීම අධික වීම නිසාත් මස් අනුභව කරන්නන්ගේ සංඛ්‍යාව වැඩිවීම නිසා ත් දැන් ලංකාව පුරා දවසකට ගවයන් දහසක් පමණ මරනු ලැබේ. හොර හරක් මැරීම ත් දිනෙන් දින අධික වෙමින් පවතී. එහෙයින් හොරෙන් මරණ හරකුන්ගේ ගණන ද වර්ෂයකට දෙලක්‍ෂය ඉක්මවා යයි. මේ අනුව ආහාරය සඳහා වර්ෂයකට මරණ හරකුන්ගේ ගණන පන් ලක්‍ෂයකට අධික වේ. විවිධ රෝගයන්ගෙන් මැරෙන ගණන ද අමතක කළ යුතු නොවේ.

1956 සිටි ගවයන්ගේ ගණන 14,50,156 වුවත් 1965 වන විට එය 19,03,567 දක්වා නැඟී ගියේ ය. එහෙත් එය 1968 වන විට 16,59,603 දක්වා පහළ බැස ඇත. රජයේ සංඛ්‍යාලේඛන අනුව මී හරකුන් වර්ෂයකට වැඩිවන්නේ සියයට නවය ගණනේ ය. හරකුන් නම් කිසි බාහිර උපක්‍රමයක් නැතිව ගොන්කමින් උපත් පාලනය කරගෙන ඇතත් මිනිසාට මිනිස්කමින් උපත් පාලනය කරගත නො හැකිව බාහිර ක්‍රම යොදා ගෙන ඇත. මිනිස්කම පහළ වැටී ඇති ප්‍රමාණය සිතීමට දැන් කාලය පැමිණ ඇත. යට කී සංඛ්‍යාවන් අනුව වර්ෂයකට ගවයන් වැඩි වන්නේ දෙලක්‍ෂයක් පමණ ය. එහෙත් ආහාරය සඳහා වර්ෂයකට ගවයන් පන්ලක්‍ෂයක් පමණ මරනවා ඇත. මේ රටෙහි ගව සම්පතක් ඉතුරු වෙයි ද?

ආචාර්ය හේම එල්ලාවල මහතා විසින් ලියන ලද, **"පුරාතන ලංකාවේ සමාජ ඉතිහාසය"** නමැති පොතෙහි 122 වැනි පිටුවෙහි සඳහන් වන කෙටි ඡේදයක් මෙසේ ය: **"මස් සඳහා ගවයන් ඇති කළ බව පැවසෙන එකම සඳහනක් වත් අපට කිසිම තැනක හමු නොවූ බව විශේෂයෙන් සැලකිය යුතුය. අප මුලින් පෙන්වා දුන් පරිදි ගවමස් ආහාරයට ගැනීම උසස්**

**කුලවතුන්ට සම්පූර්ණයෙන් ම තහනම් විය. ගවමස් ආහාරයට ගන්නා අය චණ්ඩාලයන් ලෙස සලකනු ලැබූහ.**" මෙය මේ රටෙහි පැවති දීර්ඝකාලීන සංස්කෘතිය යි.

ජනරජ පනතෙන් බුද්ධාගමට ප්‍රමුඛස්ථානය දී ඇත. රටෙහි සංස්කෘතිය රකින්නට වැඩි දියුණු කරන්නට සංස්කෘතික අමාත්‍යාංශයක් හා දෙපාර්තුමේන්තුවක් ද පිහිටුවා ඇත. මස් පිණිස ගවයන් බෝ කිරීම, මස් පිණිස ගවයන් පිටරටින් ගෙන්වීමත්, මස් පිණිස ගවයන් මැරීමත් මේ රටෙහි සංස්කෘතියට සම්පූර්ණයෙන් පටහැනි ය. රක්ෂාවට සංස්කෘතිය ගැන කතා කරන, ක්‍රියා කරන අය නිහඬව සිටියත් සංස්කෘතිය ගැන හැඟීමක් ඇති ගිහි පැවිදි දෙ පිරිසම මෙබඳු අවස්ථා වල දී රජයටත් මහජනතාවටත් හේතු සාධක සහිතව කරුණු පෙන්වා දිය යුතු වේ.

පුරාණ ලංකාවේ ගවයන් මැරීම නො කළේ ආගමික ප්‍රශ්නයක් උඩම නොවේ. බුද්ධාගම ගවයාට පමණක් මෛත්‍රී කරන ආගමක් නොවන හෙයිනි. ගව සම්පත දියුණු කළේ සෞඛ්‍යය හා ආර්ථිකය මුල්කරගෙනය. ගවයා පස්ගෝරසය දුන් අතර කෘෂිකර්මයෙහි ප්‍රධාන උපකාරකයෝ වූහ. ඒ දෙඅංශයෙන් අදත් ගවයාගෙන් ලැබෙන උපකාරය සුළු පටු නො වේ.

පස්ගෝරස මනුෂ්‍ය ශරීරයට ඉතා හිතකර බව කවුරුනුත් පිළිගෙන ඇත. එහෙයින් පෙරදිග ශිෂ්ඨාචාරය අනුව කුලකාන්තාවක් විවාහ කර දෙන විට දැවැද්දේ කොටසක් වශයෙන් ගවයන් දීමේ සිරිතක් විය. ඉතා දිගු කාලයක පටන් පවත්නා ජාතික සංස්කෘතිය ත් බුදු බණ ත් නිසා පුරාණ ලංකාවේ ගව සම්පත හොඳින් දියුණුව පැවතිණ. දැන් නැවතත් ගව සම්පත දියුණු කරන්නට වැර වඩතත් ඒ පිළිවෙල වැරදි බව නො කියාම බැරිය. මෙහේ සිටින හරකුන් මරා මස් අනුභව කොට එයින් ලැබෙන මුදල වාගේ හත් අටගුණයක් මුදල් වියදම් කොට පිටරටින් හරකුන් ගෙන්වන වැඩ පිළිවෙල කවර අර්ථශාස්ත්‍රයකට අයත් දැයි ඇසිය යුතු ය.

පිටරටින් ගෙන්වන ගවයාගෙන් තරම් මේ රටෙහි ගවයාගෙන් කිරි ලැබෙන්නේ නැතැයි කිව හැකි ය. පිටරට ගවයාට දක්වන සැලකිල්ලෙන් හා කරන සංග්‍රහයෙන් හතරෙන් පංගුවක් මේ රට ගවයාටත් සලකා සංග්‍රහ කොට බලන්න කිරි ලැබෙන්නේ නැද්ද කියා. පොළොව උලා කා ඇල් වතුර බී ජීවත් වන ගවයාට රුපියල් දහස් ගණනක් වියදම් කොට ජීවත් කරවන ගවයා දෙන තරම් කිරි දෙනනට පිළිවන් දැයි සිතා බලන්න. පිටරටින් හරකුන් ගෙන්වීම සිතූ තරමට වියදමේ තරමට සාර්ථක දැයි මඳක් සිතා බලන්න.

ලංකාව පුරා සිටින එළ - මී ගවදෙනුන්ගෙන් දවසකට කිරි පයින්ට් අට ලක්ෂ පනස්දහසක් පමණ ලැබෙයි. රජයට සම්බන්ධ කිරිමණ්ඩලය අත ගසා තිබෙන්නේ එයින් එක් ලක්ෂ හැට දහසකට පමණ ය. විවිධ ආයතන හා විවිධ පුද්ගලයන් විසින් දිනපතා කිරි පයින්ට් හත් ලක්ෂයක් පමණ රජයට සතයක වියදමක් නැතිව බෙදා දී බඳුත් ගෙවන අතර ඉතිරි කිරි පයින්ට් එක් ලක්ෂ හැට දහස නිසා රජයට දරන්නට සිදු වී ඇති වියදම අති විශාල ය. වරින් වර ඇති වන පාඩු නිසා කිරි මණ්ඩලය කිරි මිල නංවයි. එයින් රට පුරාම කිරි මිල ඉහළ නගී. එහෙයින් දුප්පත් දෙමාපියන්ගේ කිරි දරුවනට කිරි කට ගාන්නටවත් නො ලැබෙයි. එයින් කිරි මණ්ඩලයක් පිහිටුවීමේ මුලික අදහස ව්‍යර්ථ වී ඇති බව පෙනෙයි. එහෙයින් කළ යුතුව ඇත්තේ කිරි මණ්ඩලය විසින් කරනු ලබන කිරි එකතු කිරීමේ හා බෙදා හැරීමේ කොටස අත්හැර ගව සම්පත දිවයින පුරා දියුණු කිරීමයි.

ළඟදී ඇති වූ තෙල් අර්බුදය නිසා කාර්මික රටවල් මහත් කරදරයකට මුහුණ පා ඇත. සතියකට වැඩ කරන දින දෙකතුනට බැස ඇත. එහෙයින් ආහාර නිෂ්පාදනය අඩපණ වී ඇත. එයිනුත් කිරි ආහාර විශේෂයි. දියුණු රටවලට විදේශ විනිමය කරුණක් නොවේ. එබැවින් අපේ රටෙහි මෙන් විදේශ විනිමය ලබාගන්නටය කියා රටවාසීන්ගේ උවමනාවන් යටපත් කොට යම් යම් දේ පිටරට යැවීම ඔවුන් ගරු කරන සිරිතක් නො වේ. මේ අනුව නුදුරු කාලයෙහි පිටරටින් එවන බොහෝ දේ අඩු වන්නට පිළිවන. ඉදින් පිටරටින් ගෙන්වන කිරි ආහාර අඩු වුවත් ආහාර අහේනිය නිසා කිරිමවුවරුනට කිරි එරීම අඩු වුවත් කිරි අහරින් ජීවත් වන කිරි දරුවාට ගවයාගේ පිහිට හැර අන්කාගේ පිහිටක් ද?

ගව ආහාර මිල වැඩිවීම නිසා කිරිදෙනුන් නඩත්තු කිරීම ලොකු ප්‍රශ්නයක් වී ඇත. මෙසේ වැඩි දුර කල්පනා නොකොට කරන ක්‍රියා නිසා කිරි පට්ටි හිමියනට ගවයන් නඩත්තු කිරීමේ දුෂ්කරතා නිසා පසුගිය මාස කිහිපය තුළ කිරි දෙනුන් දෙදහසක් පමණ මස් පිණිස විකුණා ඇති

බව දැනගන්නට ලැබිණි. මහා ජාතික අපරාධයකි. අනාගතයෙහි කිරි දරුවන් ජීවත් කරවන්නේ කෙසේ දැයි නුවණින් සලකා බැලිය යුතු ය.

ශ්‍රී ලංකාවෙහි වගාවට උපකාර වන රෝද හතරේ හා රෝද දෙකේ ට්‍රැක්ටර් නමින් හැඳින්වෙන යන්ත්‍ර විසි දෙදහසක් පමණ ඇතැයි දැන ගන්නට ඇත. මෙයින් රෝද හතරේ යන්ත්‍රයෙකින් කුඹුරු අක්කරයක් හා දීමට මීට අවුරුදු පහකට පමණ ප්‍රථම අය කළේ රුපියල් 40 ක් පමණ ය. ටිකෙන් ටික ගණන් වැඩි වෙමින් අවුත් ළඟදී ඇති වූ තෙල් අර්බුදය නිසා බොහෝ පළාත්වල අක්කරයක් හා දීමට දෙවරකට රුපියල් 150 සිට 200 දක්වා අය කරනු ලැබේ. ආර්ථික අතින් හොඳටම පිරිහී සිටින ගොවීනට මේ මුදල ගෙවිය හැකි දැයි සිතා බලන්න.

දැනට වගාව සඳහා පමණක් යොදවන ට්‍රැක්ටර් වලට යොදවන්නට ඇති මුදල කෝටි එකසිය පනහක් පමණ වනු ඇත. අමතර කොටස් වලට හා තෙල්වලට කොපමණ විනිමය යන්නට ඇද්ද? දැන් ඒ ට්‍රැක්ටර් වලින් තුනෙන් එකක් පමණ අමතර කොටස් නැතිකමින් ඒ ඒ තැන්වල පවතී. ඉතිරි කොටස් දෙක තෙල් නැති කමින් පණ අදී. ගවයාගෙන් කුඹුරු සෑමට ද පෙරට වඩා වියදම් වැඩිය. එහෙත් අක්කරයක් දෙවරක් හෑමට රුපියල් හැත්තෑ පහක් පමණ වැය වේ. ට්‍රැක්ටරයෙන් තරම් ඉක්මනට නැතත් විදේශ විනිමය නැතිවන්නේ ද නැත. පොළොව උවමනාවට වඩා කැපී නිසරු වී යන්නේ ද නැති අතර පොළොව සුළු වශයෙන් හෝ සරු වෙයි.

අපේ ගොවිකම් විශාරදයන්ගේ උපදෙස් පරිදි ගොවිතැනට ට්‍රැක්ටර් යෙදුවා. රසායනික පොහොර යෙදුවා. ගිය වර්ෂයෙහි රසායනික පොහොර සඳහා රුපියල් දහතුන් කෝටියක් වැය කර ඇත. එයින් හතරෙන් කොටසක් ගොවිතැන සඳහා ය. ට්‍රැක්ටරයෙන් හාලා රසායනික පොහොර යොදා මුළු ලක් පොළවම නිසරු කර ඇත. ඒ පොහොර නො දැම්මොත් අක්කරයකින් වී බුසල් 20 ක් වත් ලබන්නට බැරි තරම් පොළව නිසරු වී ඇත. එසේ වුවත් පොහොර ගෙන්වන්නට විනිමය නැත. අළුත් වී වර්ග යෙදුවා එහෙත් බලාපොරොත්තු  වූ අස්වැන්නක් නැත. වී වශයෙන් වැඩි මාස ගණනක් තබා ගන්නටත් අපහසු ය. උයා බත් වශයෙන් වැඩි පැය ගණන් තබා ගන්නටත් අපහසු ය. දැන් නැවතත් ලැබෙන උපදේශය පරණ වී වලට බහින්නටයි. පරණ වී සොයා ගන්නටත් පිළිවන, පරණ පොහොර හදා ගන්නටත් පිළිවන. පරණ නගුල යොදා ගන්නටත් පිළිවන. එහෙත් ගව සම්පත රැක ගත්තේ නැත්තම් නගුල අදින්නේ කවුදැයි නුවණින් සලකා බලන්න.

ලෝකය නවීන වන විට අප පමණක් නවීන නොවී සිටිම සුදුසු නැත. එහෙත් උවමනාවට වඩා නවීන වීම නම් හොඳ නැත. ඔවුන් නවීන වූවා වැඩි යයි බටහිර දියුණු රටවල උගතුන් තේරුම් ගත්තේ තෙල් අර්බුදයෙන් පසුවයි. පසු වී හෝ ඔවුන් වටහා ගත්තත් අපේ විශාරදයන් තේරුම් ගත්තා දැයි සිතීමට තවම ලකුණු නැත. යන්ත්‍රවල කෑලි තවමත් හරියට නිපදවන්නේ නැති, තවම තෙල් බින්දුවක් වත් නුපුදින, රැකී රක්‍ෂා ප්‍රශ්නය හොඳට ම උග්‍ර රටක ගොවිතැන උවමනාවට වඩා නවීන කිරීමේ වරද පළමු වරට පෙන්වා දුන්නේ මීට අවුරුදු විස්සකට  පමණ පෙර පැමිණි ජපන් කෘෂිකර්ම විශේෂඥයෙක් ය. මෑතක දී පෙන්වා දුන් වාර ද බොහෝ ය. එවා ගණන් ගත්තේ නැත. දැන් ඉතින් ට්‍රැක්ටර් දුවවන්නට කෑලිත් නැත. තෙලුත් නැත. නගුල අදින්නට ගවයාත් නැත. පොළොවට පෝරත් නැත. අලුත් ගොවියාට උදැල්ල හුරුත් නැත. හුරු අතට උදැල්ලත් නැත. අළුත් ක්‍රම වල ප්‍රතිඵල රටපුරා සාගතය යි.

මේ රටට පැමිණෙන සංචාරකයන් සතුටු කරවන්නට ගවමස් හොඳට ම අවශ්‍යලු. අපේ රටෙහි සමහරුනට ගවමස් හොඳට ම රස වී තිබේලු. එහෙයින් මසට ගවයන් බෝ කිරීමත් මසට ගවයන් පිටරටින් ගෙන්වීමත් අළුත් යෝජනාවකි. මේ රටෙහි විද්‍යාවන් හදාරතත් ඒවා පිටරටින් ආනයනය කළ ලද්දාහු ය. ඒවා මෙහාට එන විට බොහෝ දුරට යල් පැනලා ය. මස් කෑම පිළිබඳව අළුත් විද්‍යා මත දන්නවා නම් මස් කන්නේ නම් නැත. 1973 අවුරුද්දේ ඇමරිකාවේ හෘදයාබාධ මරණ හත් ලක්‍ෂය දක්වා නැග ඇත. ඒ පිළිබඳව කරන පර්යේෂණ රාශියකි. ඒ අනුව හෘදයාබාධ රෝගයට හේතු ගණනකි. ඉන් ප්‍රධාන හේතු දෙකක් මස් කෑමත් බිත්තර කෑමත් ය. මෙහි ද දොස්තර මහත්වරුන්, හෘදයාබාධ රෝගීනට දෙන උපදෙස්වල මුල් තැනක් ගන්නේ මස් හා බිත්තර කන්න එපා යන්නයි. හෘදයාබාධ රෝග හදා නො ගෙන නිරෝගීව බොහෝ කල් ජීවත් වන්නට කැමති නම් බිත්තර හා මස් කන්නට එපා කියන බවක් දැන ගන්නට නැත. එහෙත් බටහිර රටවල ජනතාව මස් හා බිත්තර කෑමෙන් වළක්වා ගන්නට බලවත් උත්සහයක් දරති. ඒ අනුව නිරෝගී ව බෝහෝ කල් ජීවත් වන්නට උපකාර වන පරිදි

පිළියෙල කරන ලද අළුත් ආහාර සැලැස්මෙහි බිත්තර බොහෝ දුරට අයින් කර ඇත. සතියකට බිත්තර තුනක් හෝ අඩු ගණනක් කෑ යුතු බව පෙන්වා දී ඇත. අවුරුදු 40 පැන්නා ට පසුව බිත්තර කන්නට උවමනා නම් සතියකට එකක් කන්නට උපදෙස් දී ඇත.

මස් කෑමෙන් ජනතාව වළක්වා ගන්නට, පළමුව පුරුද්ද කැඩීම සඳහා සෝයා බෝංචි වලින් කෘතිම මස් හදා පුරුදු කර ගෙන යති. ආහාරය සඳහා ගවයන් ඇති කිරීම ආර්ථික පරිහානියකට ත් ආහාර හිඟයකට ත් මග පෑදෙන සැටි බටහිර විද්‍යාඥයන් පෙන්වා දී ඇත. පස්ගෝරස හා එළවලු පලතුරු ආහාර නිසා නිරෝගී වන සැටිත් බොහෝකල් ජීවත් වන සැටිත් බටහිර විද්‍යාඥයන් පෙන්වා දී ඇත.

සමාජය දෙස බලා පාඩම් ඉගෙනීම බෞද්ධ අධ්‍යාපනයෙහි එක් අංශයකි. එහෙයින් ගිය දේ ගියාවේ. පාඩම් ඉගෙන ගෙන ඉදිරිය සාර්ථක කර ගත යුතු වේ. ලංකාවෙහි කුඹුරු අක්කර දහහතර ලක්‍ෂයක් පමණ ඇත. පැටවුන් හා මී හරකුන් සිටින්නේ හත් ලක්‍ෂ පනස් දහසක් පමණ ය. මී හරකුන් පමණක් මැරීම නතර කිරීමෙන් අවශ්‍ය භූමි ප්‍රමාණය සී සෑම නො කළ හැකි වේ. එළ හරකුන් පැටවුනුත් සමඟ දහසය ලක්‍ෂයක් පමණ ඇත. ඔවුන්ගෙන් අට ලක්‍ෂයක් පමණ කුඹුරු වැඩට යොදා ගත හැකි ය. මේ අවස්ථාවේ දී සංචාරකයන් හා ඇතැම් ආගමිකයන් සතුටු කරන්නට ගියොත් ගව සම්පත රැක ගත නො හැකි වනු ඇත. එසේ වුවොත් ලක්වැසි ජනතාව සාගතයෙන් මැරෙනු ඇත. තව අවුරුදු හයෙකින් ලෝක සාගතයක් ද පැමිණෙන බව වාර්තා වෙයි. දූරදර්ශි නො වුවහොත් අනාගතය භයානක වනු ඇත.

මී හරකුන් මැරීම තහනම් කිරීම ගැන අග්‍රාමාත්‍යතුමිය ඇතුළු අමාත්‍ය මණ්ඩලයට ශුභාශිර්වාදය පිරිනමන අතර ගවඝාතනය සම්පූර්ණයෙන් තහනම් කරන ලෙස මහා සංඝරත්නය වෙනුවෙන් දන්වා සිටිමු. එකවර එසේ කිරීමේ අපහසුවක් ඇතොත් ආරම්භය අඩුම ගණනේ සතියකට දින තුනක් ගවයන් මැරීම හා හෝටල් ආදියෙහි ගවමස් කන්නට දීමත්, මරණ දිනයන්හි ද කලින් මැරූ ගණනට වඩා එක් ගවයෙකුව ත් නො මරණ ලෙසත් පිළිවන් ඉක්මනින් ගවඝාතනය සම්පූර්ණයෙන් නතර කිරීමට නීති පනවන ලෙසත් අසරණ සත්වයන් කෙරෙහි ත් ආහාර හිඟයකින් දුකට පත්වන ජනතාව කෙරෙහිත් කරුණාවෙන් දන්වා සිටිමු. පළමු පියවර වශයෙන් ජනතාව ගවමස් කෑමෙන් වළක්වා ගන්නට වැඩ පිළිවෙලක් ආරම්භ කරන බවට කරුණාවෙන් පොරොන්දු වෙමු.

**"ගවමස් කන්ට එපා. ගවයා මරන්ට දෙන්ට එපා. ගවයන් මරණ තැනකට යන්ට එපා. ගවයන් මරණ තැනැත්තා චණ්ඩාල රොඩියෙකි. ගව මස් කන එකා රොඩී රැලට දාන සිරිතක් පෙර ලංකාවේ තුබුණි."**

(අනගාරික ධර්මපාල තුමා)

1974 දී එවක ලක් රජයේ අග්‍රාමාත්‍යතුමිය ඇතුළු අමාත්‍ය මණ්ඩලයට ත් මහජනතාවට ත් ඉදිරිපත් කැරුණු විවෘත සන්දේශයකි
ප්‍රඥාප්‍රභා 7

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා